OL/2023(2024)/64/S-I, II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**64 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)
**General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)**

| | |
|---|---|
| දෙවන බස - සිංහල I, II<br>இரண்டாம் மொழி - சிங்களம் I, II<br>Second Language - Sinhala I, II | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>*Three hours* |

| | |
|---|---|
| අමතර කියවීම් කාලය | - මිනිත්තු 10 යි |
| மேலதிக வாசிப்பு நேரம் | - 10 நிமிடங்கள் |
| Additional Reading Time | - 10 minutes |

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදා ගන්න.

வினாப்பத்திரத்தை வாசித்து, வினாக்களைத் தெரிவுசெய்வதற்கும் விடை எழுதும்போது முன்னுரிமை வழங்கும் வினாக்களை ஒழுங்கமைத்துக் கொள்வதற்கும் மேலதிக வாசிப்பு நேரத்தைப் பயன்படுத்துக.

**Use additional reading time to go through the question paper, select the questions you will answer and decide which of them you will prioritise.**

## දෙවන බස - සිංහල I    இரண்டாம் மொழி - சிங்களம் I    Second Language - Sinhala I

**උපදෙස්:**

- ※ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- ※ අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
- ※ ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
- ※ එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**அறிவுறுத்தல்கள்:**

- ※ எல்லா வினாக்களுக்கும் விடை எழுதுக.
- ※ **1** தொடக்கம் **40** வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும். (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் சரியான அல்லது மிகப் பொருத்தமான விடையைத் தெரிவுசெய்க.
- ※ உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.
- ※ அவ்விடைத்தாளின் மறுபக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாக வாசித்து, பின்பற்றுக.

**Instructions:**

- ※ *Answer **all** questions.*
- ※ *In each of the questions from* **1** *to* **40,** *pick one of the alternatives* (1), (2), (3), (4) *which you consider is **correct or most appropriate.***
- ※ ***Mark a cross (X) on the number corresponding to your choice in the answer sheet provided.***
- ※ *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

● අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවල, **තද කළු අකුරෙන්** මුද්‍රිත පදය වෙනුවට යෙදිය හැකි වඩාත් සුදුසු පද යුගලය තෝරන්න.

**1** தொடக்கம் **5** வரையுள்ள வினாக்களில் **தடித்த எழுத்தில்** தரப்பட்டுள்ள சொற்களுக்குப் பதிலாக இடத்தக்க மிகவும் பொருத்தமான சொற்சோடியைத் தெரிவுசெய்க.

Select the most suitable pair of words for the word printed in **bold letters** in questions from No. **1** to **5**.

**1.** තාත්තේ, **ඔයත්තෙක්ක** මම එන්න ද?

(1) ඔයත්තෙ එක්ක    (2) ඔයා එක්ක    (3) ඔයත් එක්ක    (4) ඔයා තෙක්ක

**2.** ඔයාගේ උත්සාහය **අතාරින්නෙපා.**

(1) ආතාරින්න එපා    (2) අතාරින්න එපා    (3) ආතරින් නෙපා    (4) අතාරින් එපා

[ 2 වැනි පිටුව බලන්න / பக். 2 ஐப் பார்க்க / *see page two*

3. අම්මෙ, අපි නිවාඩුවට ආච්චි අම්මා බලන්න **යන්නැද්ද**?
(1) යන්න නැද්ද (2) යන්නෑ නැද්ද (3) යන නැද්ද (4) යන්නෙ නැද්ද

4. අලුතෙන් ගස් හිටවන්නෙ නැතිව ගස් **කපන්නෙපා**.
(1) කපන් එපා (2) කපන්නේ එපා (3) කපන්න එපා (4) කපන එපා

5. හවසට වහීවි පුතේ, **කුඩෙත්තරන්** යන්න.
(1) කුඩේ තරන් (2) කුඩෙත් අරන් (3) කුඩෙත් රන් (4) කුඩේ අතරන්

- අංක 6 සිට 10 තෙක් ප්‍රශ්නවල දී ඇති පද අතුරෙන් **නිවැරදි උච්චාරණය** සහිත උත්තරය තෝරන්න.
6 தொடக்கம் 10 வரையான வினாக்களில் தரப்பட்டுள்ள சொற்களில் **சரியான உச்சரிப்பைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
Select the answer with **correct pronunciation** from the words given in questions from No. 6 to 10.

6. (1) වතුර මල (2) වදුර මල (3) වතුරු මළ (4) වදුර මළ
7. (1) පත්තර පිඩුව (2) පත්තර පිටුව (3) පද්දර පිටුව (4) බද්දර බිටුව
8. (1) බිටකොටුව (2) පිටගොටුව (3) පිටකොටුව (4) බිටගොටුව
9. (1) ග්‍රාමනිලධාරි (2) ක්‍රාමනිලධාරි (3) ග්‍රාමනිලතාරි (4) ගිරාමනිලධාරි
10. (1) කම්පොළ හරහා (2) ගම්පොළ හරහා (3) ගම්බොළ කරහා (4) ගම්පොළ කරහා

- අංක 11 සිට 14 තෙක් දී ඇති එක් එක් ප්‍රකාශය සඳහා **වඩාත් ගැළපෙන** ප්‍රශ්නය තෝරන්න.
11 தொடக்கம் 14 வரையான ஒவ்வொரு கூற்றுக்கும் **மிகப்பொருத்தமான** வினாவைத் தெரிவுசெய்க.
Select the **most appropriate** question for each statement given from No. 11 to 14.

11. ගිහාන් ආපසු ගෙදරට ආවේ ය.
(1) ගිහාන් ආපසු ආවේ ඇයි?
(2) ගිහාන් ආපසු ආවේ කුමන වෙලාවක ද?
(3) ගිහාන් ආපසු එන්නේ කොහොම ද?
(4) ගිහාන් ආපසු ආවේ කොහෙට ද?

12. “ඔයා මැරුණා වගේ ගහ යට නිදාගෙන ඉන්න”
(1) ගහ යට නිදාගෙන ඉන්න කිවුවේ කවුද?
(2) ගහ යට නිදාගෙන ඉන්න කිවුවේ කොහොම ද?
(3) ගහ යට නිදාගෙන ඉන්න කිවුවේ ඇයි?
(4) ගහ යට නිදාගෙන ඉන්න කිවුවේ කොයි වෙලාවෙ ද?

13. මුළු ඇඟ ම ඉව කරලා බලලා යන්න ගියා.
(1) ඉව කරලා බලලා යන්න ගියේ කවුද?
(2) ඉව කරලා බලලා යන්න ගියේ කොහොම ද?
(3) ඉව කරලා බලලා යන්න ගියේ කොහාට ද?
(4) ඉව කරලා බලලා යන්න ගියේ මොකක් ද?

14. අර දොරටුව ළඟ කවුන්ටරයෙන් ටිකට් ගන්න.
(1) කවුන්ටරයෙන් ගන්න කිවුවේ මොනවා ද?
(2) කවුන්ටරයෙන් ගන්න කිවුවේ කවුද?
(3) කවුන්ටරයෙන් ගන්න කිවුවේ කුමන වෙලාවෙ ද?
(4) කවුන්ටරයෙන් ගන්න කිවුවේ ඇයි?

- අංක 15 සිට 17 තෙක් ප්‍රශ්නවල **නිවැරදි ව අකුරු** යෙදී ඇති උත්තරය තෝරන්න.
15 தொடக்கம் 17 வரையான வினாக்களில் **சரியான எழுத்துக்கூட்டலைக்** கொண்ட சொல்லைத் தெரிவுசெய்க.
Select the answer with **correct spellings** in questions from No. 15 to 17.

15. (1) භාණ්ඩාගාරික (2) බාන්ඩාගාරික (3) භාණ්ඩාභාරික (4) භාණ්ඩාකාරික
16. (1) වාර්සික (2) වාර්සිඛ (3) වාර්ෂිඛ (4) වාර්ෂික
17. (1) කොට්ඨාෂය (2) කොට්ටාසය (3) කොට්ඨාසය (4) කොට්ටාශය

- අංක 18 සිට 20 තෙක් ප්‍රශ්නවල **නොගැළපෙන** පදය තෝරන්න.
18 தொடக்கம் 20 வரையான வினாக்களில் **பொருத்தமற்ற** சொல்லைத் தெரிவுசெய்க.
Select the **inappropriate** word in questions from No. 18 to 20.

18. (1) පාසල (2) විශ්වවිද්‍යාලය (3) පන්සල (4) කාර්මික විද්‍යාලය
19. (1) සුළි සුළං (2) සීතල (3) ගංවතුර (4) භූමිකම්පා
20. (1) මවුලවිතුමා (2) පූජකතුමා (3) විදුහල්පතිතුමා (4) විහාරාධිපති හිමියන්

- අංක **21** සිට **23** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමානාර්ථයක් දෙන පදය** තෝරන්න.
**21** தொடக்கம் **23** வரையான வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **ஒத்தகருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
Select the **synonym** for the word given at the beginning in questions from No. **21** to **23**.

**21.** පෙරවරු : (1) උදේ (2) සවස (3) පසුදින (4) පෙර දින

**22.** ජලය : (1) වාෂ්ප (2) මීදුම (3) සීතල (4) වතුර

**23.** නිවස : (1) වහල (2) ගෙදර (3) කුටිය (4) වෙහෙර

- අංක **24** සහ **25** ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධාර්ථයක් දෙන පදය** තෝරන්න.
**24, 25** ஆகிய வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **எதிர்க்கருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
Select the **antonym** for the word given at the beginning in questions No. **24** and **25**.

**24.** සංවෘත : (1) සංවහන (2) සමෘද්ධි (3) විවෘත (4) විවිධ

**25.** ඉහළ : (1) අසල (2) පහළ (3) පෙළ (4) පොළ

- අංක **26** සිට **28** තෙක් එක් එක් ප්‍රශ්නයේ දී ඇති පින්තූරය සඳහා **වඩාත් ගැළපෙන අදහස** දැක්වෙන වරණය තෝරන්න.
**26** தொடக்கம் **28** வரையான ஒவ்வொரு வினாவிலும் தரப்பட்டுள்ள படத்துக்கு **மிகப் பொருத்தமான கருத்தைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
Select the option that gives the **most suitable idea** for the picture given in each question from No. **26** to **28**.

**26.**


(1) ආබාධිත අය ගමන් කිරීම තහනම්
(2) ආබාධිත අය සඳහා පමණි
(3) පාපැදි ගමන් කිරීම තහනම්
(4) පාපැදි තල්ලු කිරීම තහනම්

**27.**


(1) ගින්නෙන් පරෙස්සම් වන්න
(2) මෙම ස්ථානයෙන් ඉවත් වන්න
(3) වහා ගිනි ඇවිළෙනසුලු ය
(4) ගිනි තැබීම තහනම්

**28.**


(1) ඉදිරියෙන් පාසලක් ඇත
(2) දෙපේළියට ගමන් කරන්න
(3) මෙතනින් පාර මාරු නොවන්න
(4) පදිකයන් සඳහා පමණි

- අංක **29** සහ **30** ප්‍රශ්නවලට **ගැළපෙන උත්තරය** තෝරන්න.
**29, 30** ஆகிய வினாக்களுக்குப் **பொருத்தமான விடையைத்** தெரிவுசெய்க.
Select the **suitable answer** for questions No. **29** and **30**.

**29.** තම අදහසක් වාචික ව ප්‍රකාශ කිරීමේ හැකියාව
(1) ශ්‍රවණය (2) කථනය (3) කියවීම (4) ලිවීම

**30.** රෝගියෙකු රෝහලට රැගෙන යාමට පෙර දිය හැකි ප්‍රතිකාරයකි
(1) සහනාධාර (2) වෛද්‍යාධාර (3) ප්‍රථමාධාර (4) ජීවනාධාර

[ 4 වැනි පිටුව බලන්න

- අංක **31** සහ **32** ප්‍රශ්නවල වාක්‍ය දෙක බැගින් දී ඇත. එම වාක්‍ය දෙක එක් වාක්‍යයක් ලෙස **නිවැරදි ව** සම්බන්ධ කර **ලියා ඇති වාක්‍යය** තෝරන්න.
**31, 32** ஆகிய வினாக்களில் இரு வாக்கியங்கள் தரப்பட்டுள்ளன. அந்த இரு வாக்கியங்களையும் **சரியாக** இணைத்து ஒரு வாக்கியமாக்கி **எழுதப்பட்டுள்ள வாக்கியத்தைத்** தெரிவுசெய்க.
In questions No. **31** and **32,** two sentences each are given. Select the **sentence** that **correctly** combines the two sentences.

**31.** මාස හයක ප්‍රායෝගික පුහුණුවක් තියෙනවා. එය සම්පූර්ණ කිරීමෙන් පසු ආයතනයේ රැකියාවක් ලැබෙනවා.
(1) ප්‍රායෝගික පුහුණුව සම්පූර්ණ කළ විට ආයතනයේ රැකියාවක් ලැබෙයි.
(2) ප්‍රායෝගික පුහුණුව සම්පූර්ණ කිරීම නිසා ආයතනයේ රැකියාවක් ලැබෙයි.
(3) ප්‍රායෝගික පුහුණුව සම්පූර්ණ කිරීම හේතුවෙන් ආයතනයේ රැකියාවක් ලැබෙයි.
(4) ප්‍රායෝගික පුහුණුව සම්පූර්ණ කරද්දී ආයතනයේ රැකියාවක් ලැබෙයි.

**32.** මිනිසා ගහකොළ කපා දමයි. පරිසරය විනාශ කරයි.
(1) මිනිසා ගහකොළ කැපීම නිසා පරිසරය විනාශ කරයි.
(2) මිනිසා ගහකොළ කැපීම සඳහා පරිසරය විනාශ කරයි.
(3) මිනිසා ගහකොළ කැපීමේ දී පරිසරය විනාශ කරයි.
(4) මිනිසා ගහකොළ කපා පරිසරය විනාශ කරයි.

- අංක **33** සහ **34** ප්‍රශ්නවල හිස්තැනට **වඩාත් සුදුසු උත්තරය** තෝරන්න.
**33, 34** ஆகிய வினாக்களிலுள்ள இடைவெளிக்கு **மிகவும் பொருத்தமான சொல்லைத்** தெரிவுசெய்க.
Select the **most suitable answer** to fill in each blank in questions No. **33** and **34.**

**33.** හාමුදුරුවන් වහන්සේ ධර්මශාලාවට ........................... සියලු දෙනා ම ආසනවලින් නැගී සිටියහ.
(1) වඩිනවා (2) වැඩියා (3) වඩිද්දී (4) වැඩියොත්

**34.** බෙරය ඇතුළේ ආහාර ඇතැයි....................................... හිවලා බෙරයට ළං විය.
(1) සිතූ (2) සිතුණි (3) සිතුවොත් (4) සිතද්දී

- අංක **35** ප්‍රශ්නයේ **තද කළු** පැහැයෙන් මුද්‍රිත සංඛ්‍යාව නිවැරදි ව අකුරෙන් ලියා ඇති පිළිතුර තෝරන්න.
**35** ஆம் வினாவில் **தடித்த எழுத்திலுள்ள** எண் சரியான எழுத்துகளால் எழுதப்பட்டுள்ள விடையைத் தெரிவுசெய்க.
Select the answer in which the number in **bold** print has been correctly written in letters in question No. **35.**

**35.** අම්බුළුවාව කඳු මුදුන පිහිටා ඇත්තේ මුහුදු මට්ටමේ සිට අඩි **3567** ක උසකිනි.
(1) තුන්දහස් පන්සිය හයසිය හත (2) තුන්සිය පන්දහස් හයසිය හත
(3) තිස් පන්දහස් හයසිය හත (4) තුන්දහස් පන්සිය හැට හත

- අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයේ **ව්‍යාකරණානුකූල ව නිවැරදි** වාක්‍යය තෝරන්න.
**36** தொடக்கம் **40** வரையான ஒவ்வொரு வினாவிலும் **இலக்கணரீதியாக சரியான** வாக்கியத்தைத் தெரிவுசெய்க.
Select the **grammatically correct** sentence in each question from No. **36** to **40.**

**36.** (1) ඉහත සඳහන් තොරතුරු මම දන්නා පරිදි සත්‍ය බවත් නිවැරදි බවත් ප්‍රකාශ කරමි.
(2) ඉහත සඳහන් තොරතුරු මා දන්නා පරිදි සත්‍ය බවත් නිවැරදි බවත් ප්‍රකාශ කළෙමු.
(3) ඉහත සඳහන් තොරතුරු මම දන්නා පරිදි සත්‍ය බවත් නිවැරදි බවත් ප්‍රකාශ කළෝ ය.
(4) ඉහත සඳහන් තොරතුරු මා දන්නා පරිදි සත්‍ය බවත් නිවැරදි බවත් ප්‍රකාශ කළාය.

**37.** (1) නායක හාමුදුරුවෝ මල්ලිට අකුරු කියෙවුවේ ය. (2) නායක හාමුදුරුවෝ මල්ලිට අකුරු කියෙවුවා ය.
(3) නායක හාමුදුරුවන් මල්ලිට අකුරු කියෙවුවෝ ය. (4) නායක හාමුදුරුවෝ මල්ලිට අකුරු කියවූහ.

**38.** (1) සම්මුඛ පරීක්ෂණ සඳහා පෙනී සිටීමට තරුණයෝ කිහිපදෙනෙක් පැමිණ සිටිති.
(2) සම්මුඛ පරීක්ෂණ සඳහා පෙනී සිටීමට තරුණයන් කිහිපදෙනෙක් පැමිණ සිටියි.
(3) සම්මුඛ පරීක්ෂණ සඳහා පෙනී සිටීමට තරුණයෝ කිහිපදෙනෙක් පැමිණ සිටින්නේ ය.
(4) සම්මුඛ පරීක්ෂණ සඳහා පෙනී සිටීමට තරුණයන් කිහිපදෙනෙක් පැමිණ සිටියහ.

**39.** (1) වෛද්‍යවරිය රෝගියාගේ ඇස් පරීක්ෂා කළෝ ය. (2) වෛද්‍යවරිය රෝගියාගේ ඇස් පරීක්ෂා කළේ ය.
(3) වෛද්‍යවරිය රෝගියාගේ ඇස් පරීක්ෂා කළා ය. (4) වෛද්‍යවරිය රෝගියාගේ ඇස් පරීක්ෂා කළහ.

**40.** (1) ප්‍රාදේශීය ලේකම් කාර්යාලයේ නිලධාරීහු, ඔවුන්ට අවශ්‍ය ආහාර ද්‍රව්‍ය ලබා දෙති.
(2) ප්‍රාදේශීය ලේකම් කාර්යාලයේ නිලධාරීන්, ඔවුන්ට අවශ්‍ය ආහාර ද්‍රව්‍ය ලබා දුන්හ.
(3) ප්‍රාදේශීය ලේකම් කාර්යාලයේ නිලධාරීහු, ඔවුන්ට අවශ්‍ය ආහාර ද්‍රව්‍ය ලබා දුන්නේ ය.
(4) ප්‍රාදේශීය ලේකම් කාර්යාලයේ නිලධාරීන්, ඔවුන්ට අවශ්‍ය ආහාර ද්‍රව්‍ය ලබා දුන්නා ය.

* *

[ 5 වැනි පිටුව බලන්න / பக். 5 ஐப் பார்க்க / *see page five*

64 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)

දෙවන බස - සිංහල I, II
இரண்டாம் மொழி - சிங்களம் I, II
Second Language - Sinhala I, II

දෙවන බස - සිංහල II　இரண்டாம் மொழி - சிங்களம் II　Second Language - Sinhala II

- I කොටසේ අංක 1 හා 2 ප්‍රශ්න ඇතුළු ව II කොටසින් **එක්** ප්‍රශ්නයක් ද III කොටසින් ප්‍රශ්න **දෙකක්** ද තෝරා ගෙන ප්‍රශ්න **පහකට** පමණක් උත්තර ලියන්න.

  பகுதி I இல் 1 ஆம் 2 ஆம் வினாக்கள் உட்பட பகுதி II இல் ஒரு வினாவையும் பகுதி III இல் இரு வினாக்களையும் தெரிவுசெய்து எல்லாமாக **ஐந்து** வினாக்களுக்கு மாத்திரம் விடை எழுதுக.

  Answer only **five** questions including questions 1 and 2 in Part I and selecting **one** question from Part II and **two** questions from Part III.

## I කොටස / பகுதி I / Part I

**1.** දී ඇති මාර්ගෝපදේශ ඇසුරු කර ගෙන පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන **වචන 100**ක පමණ රචනයක් ලියන්න.
பின்வரும் தலைப்புகளுள் **ஒன்றைத்** தெரிவுசெய்து அதன் கீழே தரப்பட்டுள்ள விடயங்களை அடிப்படையாகக் கொண்டு ஏறத்தாழ **100 சொற்களில்** அமையுமாறு ஒரு கட்டுரை எழுதுக.
Write an essay of about **100 words** on **one** of the following topics using the given guidelines.

(අ) අරපිරිමැස්මට පුරුදු වීමේ අගය
- (i) හැඳින්වීම
- (ii) අරපිරිමැස්මට පුරුදු විය හැකි අයුරු
- (iii) එයට යොමු වීමේ අවශ්‍යතාව
- (iv) ජීවිතයට ලැබෙන ප්‍රයෝජන
- (v) සමාලෝචනය

(ආ) රචනා තරගයෙන් ජයගත් දා
- (i) හැඳින්වීම
- (ii) රචනා තරගයේ ස්වභාවය
- (iii) එයට සහභාගි වූ ආකාරය
- (iv) ජයග්‍රහණය ලැබී ඇති වූ සතුට
- (v) සමාලෝචනය

(ඉ) ශ්‍රී ලංකාවේ සුන්දරත්වය
- (i) හැඳින්වීම
- (ii) සුන්දර වීමට බලපාන හේතු
- (iii) සුන්දරත්වය ආරක්ෂා කර ගැනීමේ අවශ්‍යතාව
- (iv) එයින් ලැබෙන ප්‍රයෝජන
- (v) සමාලෝචනය

(ඊ) වන අලි ගමට පැමිණීම
- (i) හැඳින්වීම
- (ii) වන අලි ගමට පැමිණීමට හේතු
- (iii) ගම්වැසියන්ට වන හානි
- (iv) හානි වළක්වා ගැනීමේ මාර්ග
- (v) සමාලෝචනය

(උ) ශිෂ්‍යනායකයන්ට පදක්කම් පැළඳ වූ උත්සවය
- (i) හැඳින්වීම
- (ii) උත්සවය පැවැත්වුණු අයුරු
- (iii) ශිෂ්‍යනායකයකු වීමෙන් ඇති වූ සතුට
- (iv) නිවසේ අය සමඟ සතුට බෙදා ගත් ආකාරය
- (v) සමාලෝචනය

[ 6 වැනි පිටුව බලන්න / பக். 6 ஐப் பார்க்க / see page six

**2.** දී ඇති පින්තූරය බලා, ඒ ඇසුරෙන් අර්ථවත් වාක්‍ය **පහක්** ගොඩනගන්න.
(වාක්‍යයක අවම වශයෙන් වචන **හතරක්වත්** තිබිය යුතු ය.)
தரப்பட்டுள்ள படத்தை அடிப்படையாகக் கொண்டு கருத்துள்ள **ஐந்து** வாக்கியங்கள் எழுதுக.
(ஒரு வாக்கியத்தில் குறைந்தபட்சம் **நான்கு** சொற்களாவது இருத்தல் வேண்டும்.)
Compose **five** meaningful sentences with reference to the given picture.
(There should be at least **four** words in a sentence).



## II කොටස / பகுதி II / Part II

- අංක **3** හා **4** යන ප්‍රශ්නවලින් **එකකට** පමණක් උත්තර සපයන්න.
**3** ஆம் **4** ஆம் வினாக்களுள் ஏதேனும் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
Answer only **one** question from questions No. **3** and **4**.

**3.** පහත සඳහන් කවි පෙළ කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் கவிதையை வாசித்து, கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following poem and answer the questions given.

මුනි සිරිපා සිඹිමින් නේ
සමනොළ ගිරි පෙදෙසින් නේ
මඳ සුළඟයි මේ එන් නේ
මගේ පුතා නිදියන් නේ

දෙව්පුර මෙන් දෙවියන් නේ
සිරි ලක් දිව් බබළන් නේ
එහි සක් දෙව් රජු මෙන් නේ
මගේ පුතා ලොකු වෙන් නේ

කරදර දහසක් හමු වී
ඉන්ටැකි නම් සිනා වෙ වී
ඔහු මෙලොවට පහළ දෙ වී
රජෙකැයි සලකනු මැන වී

(i) මෙම කවි පෙළෙන් කවියා අමතන්නේ කාට ද?
(ii) මඳ සුළඟ එන්නේ කොහි සිට ද?
(iii) සිරිලක් දිව උපමා කොට ඇත්තේ කුමකට ද?
(iv) කරදර බාධක මැද සිනහ විය හැකි තැනැත්තා හඳුන්වා ඇත්තේ කවුරුන් ලෙස ද?
(v) 'ප්‍රදේශයෙන්' යන්නට සමානාර්ථ පදයක් කවි පෙළෙන් උපුටා ලියන්න.

[ 7 වැනි පිටුව බලන්න / பக். 7 ஐப் பார்க்க / see page seven

**4.** පහත දැක්වෙන ඡේදය කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் உரைப்பகுதியை வாசித்து, கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following paragraph and answer the given questions.

පාර අයිනේ පුංචි මැටි ගෙයක් තිබුණේ ය. එහි ජීවත් වුණේ විමල් සහ ඔහුගේ නැගණිය සාමා යන දෙදෙනාත් ඔවුන්ගේ ආත්තම්මාත් පමණි. දෙමවුපියන් නැති ඔවුන් රැකබලාගත් ආත්තම්මා මේ දරු දෙදෙනාට ඇඩි සෙනෙහසක් දැක්වූවා ය. ආත්තම්මා ජීවිකාව ගෙන ගියේ පොල් අතු විවීමෙන් සහ කොහු අඹරා ලබා ගත් මුදලිනි. ඔවුන්ට කුඩා එළවළු කොටුවක් ද තිබිණි. මේ පුංචි පැලට ආසන්නයේ තිබුණු කුඩා කඳු ගැටය මතුපිට විශාල දෙමහල් මැඳුරක් තිබුණේ ය. එහි ජීවත් වූයේ කවුරුන් දැයි මේ අය දැන සිටියේ නැත. මහා මන්දිරය වටා ශක්තිමත් තාප්පයක් බැඳ තිබුණි. කිසිවෙකුටත් තාප්පයෙන් පැනීමට නොහැකි වන ලෙස තාප්පය උඩ උල් බෝතල් කටු සවිකර තිබුණේ ය.

(i) මැටි ගෙදර ජීවත් වූ අය කවුරුන් ද?
(ii) ආත්තම්මා ජීවිකාව ගෙන ගියේ කෙසේ ද?
(iii) දෙමහල් මැඳුර පිහිටා තිබුණේ කොහි ද?
(iv) තාප්පය උඩ උල් බෝතල් කටු සවිකර තිබුණේ ඇයි?
(v) 'මැඳුර' යන්නට සමානාර්ථ පදයක් ඡේදයෙන් උපුටා ලියන්න.

## III කොටස / பகுதி III / Part III

- අංක **5** හා **6** යන ප්‍රශ්න **දෙකට ම** උත්තර සපයන්න.
**5, 6** ஆகிய **இரண்டு** வினாக்களுக்கும் விடை எழுதுக.
Answer **both** questions No. **5** and **6**.

**5.** පහත දැක්වෙන තොරතුරු පදනම් කර ගෙන දැන්වීම් පත්‍රිකාවක් සකස් කරන්න.
பின்வரும் விடயங்களைக் கருத்திற்கொண்டு அறிவித்தலொன்றை தயாரிக்குக.
Prepare a notice based on the following details.

ඔබ පාසල පිහිටුවා වසර 50ක් පිරීම නිමිති කරගෙන ප්‍රදර්ශනයක් සංවිධානය කරන ලෙස පාසලේ පරිසර සංගමයට විදුහල්පතිතුමා උපදෙස් දී ඇත. මේ අනුව සියලු ම පන්තිවලින් පරිසර හිතකාමී ප්‍රදර්ශන භාණ්ඩ රැස් කිරීමට පරිසර සංගමය අදහස් කරයි.

ප්‍රදර්ශනය සම්බන්ධයෙන් පාසල් ශිෂ්‍යයන් දැනුවත් කිරීම සඳහා සුදුසු දැන්වීම් පත්‍රිකාවක් පිළියෙල කරන්න.

ඔබේ පාසල රත්මල්ගම මහා විද්‍යාලය ලෙස ද ඔබ පරිසර සංගමයේ ලේකම් සහන් ගුණරත්න යැයි ද සිතන්න.

**නැතහොත්**
**அல்லது**
**Or**

පහත දැක්වෙන තොරතුරු පදනම් කර ගෙන සභාපතිතුමා වෙත යැවීමට සුදුසු රාජකාරි ලිපියක් ලියන්න.
பின்வரும் விடயங்களைக் கருத்திற்கொண்டு தலைவருக்கு உத்தியோகபூர்வ கடிதமொன்றை எழுதுக.
Based on the following facts write an official letter to be sent to chairman.

රත්මල්ගම සමගි මාවතේ පවුල් 25ක් පමණ පදිංචිව සිටිති. නිවාසවලින් බැහැර කරන කුණු කසළ ඉවත් කිරීමට නිසි වැඩපිළිවෙළක් මෙතෙක් ක්‍රියාත්මක වී නැත. මේ නිසා නිවැසියන්ට පාරිසරික ප්‍රශ්නවලට ද සෞඛ්‍ය ප්‍රශ්නවලට ද මුහුණ දීමට සිදු වී ඇත. ඔවුන් මුහුණ දී ඇති අපහසුතා විස්තර කරමින් කඩිනමින් විසඳුමක් ලබාදෙන ලෙස ඉල්ලමින් රත්මල්ගම ප්‍රාදේශීය සභාවේ සභාපති වෙත යැවීම සඳහා ලිපියක් සකස් කරන්න.

[ 8 වැනි පිටුව බලන්න / பக். 8 ஐப் பார்க்க / see page eight

**6.** පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය **සිංහලට** පරිවර්තනය කරන්න.
கீழே தரப்பட்டுள்ள தமிழ் / ஆங்கில வாக்கியங்களை **சிங்களத்தில்** மொழிபெயர்க்க.
Translate the following Tamil / English sentences into **Sinhala**.

(i) நான் நூல் நிலைய அங்கத்துவதத்தைப் பெற்றுக்கொண்டேன்.
I got the membership of the library.

(ii) சிறுவர்கள் விளையாடுவதற்காக மைதானத்தில் ஒன்று கூடினார்கள்.
Children gathered on the ground to play.

(iii) நாம் சந்துனிக்கு பிறந்தநாள் வாழ்த்தட்டையொன்றைத் தயாரிப்போம்.
Let us make a birthday card for Sanduni.

(iv) நாம் யால தேசியப் பூங்காவைப் பார்வையிடச் சென்றோம்
We went to see the Yala National Park.

(v) நாம் கண்காட்சியொன்றை நடத்தவுள்ளோம்.
We are going to hold an exhibition.

**නැතහොත්**
**அல்லது**
**Or**

පහත සඳහන් තොරතුරු පදනම් කර ගෙන සංවාදයක් ලියන්න. (වාක්‍ය **10ක්** ප්‍රමාණවත් වේ.)
பின்வரும் தகவல்களை அடிப்படையாகக் கொண்டு உரையாடல் ஒன்று எழுதுக. (**10** வாக்கியங்கள் போதுமானவை.)
Write a dialogue based on the following information. (**10** sentences are enough.)

ඔබේ ගමේ රැකියා නොකරන කාන්තාවන් සඳහා පන් ආශ්‍රිත නිෂ්පාදන සකස් කිරීමේ වැඩමුළුවක් පැවැත්වීමටත් ඉන් අනතුරුව ඔවුන් සකස් කරන භාණ්ඩ සඳහා වෙළෙඳපොළක් සකසා දීමටත් ගමේ ප්‍රජා සංවර්ධන සමිතිය තීරණය කර ඇත. මේ සම්බන්ධයෙන් විස්තර දැන ගැනීමට සංගමයේ ලේකම් සමග ඔබ කරන සංවාදය ලියන්න. ඒ සඳහා පහත කරුණු උපයෝගී කරගන්න.

- සංගමයේ ලේකම් මුණ ගැසීම හා සුබ පැතීම
- අදාළ කරුණු සම්බන්ධයෙන් සාකච්ඡා කිරීම
- සමුගැනීම

❊❊❊